රුසියානු මහා කවි

**ව්ලදිමීර් මයාකෝව්ස්කි**

# රැකියාවක් තෝරා ගන්නේ කෙසේද?



රුසියානු මහා කවි

## ව්ලදිමීර් මයාකෝව්ස්කි

# රැකියාවක් තෝරා ගන්නේ කෙසේ ද?

චිත්‍ර

යූ.කරෝවින්

අනුවාදය



ISBN 978-955-0230-14-3

නව පරිගණක සැකසුම

මාලක ලලනජීව

මුද්‍රණය




ප්‍රකාශනය



**අගහස් ප්‍රකාශන**

717/2, මාදින්නාගොඩ, රාජගිරිය.

ප්‍රථම මුද්‍රණය 2013



රුසියානු මහා කවි

## ව්ලදිමීර් මයාකෝව්ස්කි

# රැකියාවක් තෝරා ගන්නේ කෙසේ ද?





චිත්‍ර

**යූ.කරෝවින්**

අනුවාදය

**රන්ජන දේවමිත්‍ර සේනාසිංහ**



**අගහස් ප්‍රකාශන**

717/2, මාදින්නාගොඩ, රාජගිරිය.

# ව්ලදිමීර් මයාකෝව්ස්කි

මේ නමින් හැඳින්වෙන්නේ 20 වැනි සියවසේ රුසියාවේ වාසය කළ සාහිත්‍යධරයෙක්. ඔහු නාට්‍යවේදියෙක්, චිත්‍රපට තිර රචකයෙක්, චිත්‍රපට අධ්‍යක්ෂවරයෙක් හා නළුවෙක්, චිත්‍ර ශිල්පියෙක් හා සංගරා සංස්කාරකවරයෙක්. එහෙත් ලෝකයේ ජනයා අතර ඔහු වැඩියෙන් ප්‍රකට වුණේ සමාජවාදී අදහස් ඇති, විප්ලවකාරී කවියකු හැටියට.

1893 දී ඔහු උපත ලද්දේ රුසියානු අධිරාජ්‍යයේ බග්දාති කියන නගරයේ. එය අයත් වන්නේ දැන් ජෝර්ජියාව ලෙස හැඳින්වෙන රටටයි. ඔහුට සහෝදරියන් දෙදෙනෙක් හා සහෝදරයින් දෙදෙනෙක් සිටියා. සහෝදරයින් දෙදෙනා කුඩා කාලයේ දී ම ලෙඩරෝග හැදිලා මියගියා. කවියාගේ වයස අවු. 13 දී ඔහුගේ පියාත් ගිලන් වී මියගියා. පස්සේ ඔවුන් මොස්කව් නුවරට පැමිණියා. මයාකෝව්ස්කි මොස්කව්හි පාසැලකට ඇතුළු කළත් ගාස්තු ගෙවාගන්නට බැරිවීම නිසා ඔහු පාසැලෙන් ඉවත් කෙරුණා. 1908 දී දේශපාලන කටයුතුවල නියැලෙන්නට පටන් ගන්නා ඔහු ඒ නිසාම නොයෙක් තාඩනපීඩනවලට ලක් වෙනවා. සිරගතව සිටියදී කවි ලියන්න පටන් ගන්න මයාකෝව්ස්කි ඉන් නිදහස් වූ පසු චිත්‍රශිල්පියකු ලෙස පුහුණුව ලබනවා. ඔහුගේ කලා ජීවිතය ආරම්භ වන්නේ ඒ ආකාරයෙන්.

මේ කවියා ගැන ඔහු ජීවත් ව සිටි කාලයේ ම පුරාවෘත්ත ගොඩනැගුණා. ඉන් එකක කියැවුණේ, සෝවියට් දේශය නමැති සමාජවාදී රටේ සද්දන්ත යෝදයෙක් ඉන්නා බවත් ඔහු කවි කියනා බවත් ඔහු රතු නැවක පිහිටි කපිතාන්ගෙ අණදෙන කුටියට නැගිලා කියන කවි මහ මුහුදුවලින් එතෙර ඈත රටවලටත් සෝවියට් දේශය රකිමින් මුර සංචාරය කරන නෞකාවලටත් ඇසෙන බවත් ඒ අසන නැවියන් සෝවියට් දේශයේ හතුරන් පළවා හරින්නට යුහුසුලු වන බවත්.

මයාකෝව්ස්කි කවියාගේ ශරීර ප්‍රමාණ ගැන කල්පනා කරන විට සැබැවින් ම ඔහුට තිබුණේ යෝධයකුගේ පෙනුමක්. ඔහු ඉතා ම උසයි. ඔහුගේ උරහිස් හරිම පළලයි. ඔහු දවැන්ත, ශක්තිමත් පුද්ගලයෙක් වුණා. ඔහුගේ කට හඬේ තිබුණේ අසාමාන්‍ය බලයක් හා අලංකාරයක්. එනිසා පැය ගණන් පුරා ඔහු කවි කියනවා අහගෙන ඉන්න මිනිසුන් රැස් කකා සිටි බව සඳහන් වෙනවා. දේශපාලනයෙදි පමණක් නොවෙයි, කවියෙදිත් ඔහු පෙරළිකාරයෙක් වුණා. ඒ, සම්භාව්‍ය කවිය විසින් නොපිළිගත් ගැමි වදන් කවියට ඇතුළත් කරමින් සහ අලුත් කාව්‍ය විරිත් භාවිතයට ගනිමින්. ඒ නිසා ඔහු විවේචනයටත් බඳුන් වුණා.

මයාකෝව්ස්කි කවියා ජීවත් වුණේ ඉතාම කෙටි කාලයයි. අවුරුදු 36ක් පමණයි. 1930 දී මිය යන මේ කවියාගේ සැමරුම් නිමිත්තෙන් සෝවියට් සංගමය හා රුසියාව විසින් තැපැල් මුද්දර ගණනාවක් නිකුත් කර තිබෙනවා. ඒ වගේම ඔහුගේ නමින් මංමාවත්, උමං දුම්රිය ස්ථාන, නගර හා චතුරශ්‍ර නම් කෙරුණා. රුසියාව විසින් මෑතක නිකුත් කරන ලද කාසියකත් ඔහුගේ රුව යොදා තිබුණා. ඔහු වෙනුවෙන් ඉදිකෙරුණු පිළිම ප්‍රතාපවත් ලෙසින් අදත් නැගී සිටිනවා.

මේ කවියා සැරපරුස පෙනුමෙන් යුතු වුවත් ඔහුට තිබුණේ බොහෝම මටසිලිටි, කරුණාවන්ත හදවතක්. ඒ නිසා සෙසු සියලු කලා කටයුතුවල නියැලෙන අතරවාරයේ පොඩිත්තන් වෙනුවෙන් ලියන්නත් ඔහු කොහොම හරි කාලය සොයා ගත්තා. සිඟිත්තන් වෙනුවෙන් මයාකෝව්ස්කි කවියා ලියූ කුඩා පොත් පිංචක් තමයි අද මේ ඔබට ඉදිරිපත් කෙරෙන්නෙ. රුසියානු බසින් මයාකෝව්ස්කි කවියා ලියූ ඒ කවි මෙහි සිංහල බසින් පළ වන්නේ, හැකිතාක් දුරට සිංහල කාව්‍ය සම්ප්‍රදායයට ගැලපෙන ආකාරයෙන් හැඩගස්වාගෙනයි. ඒ, 2013 වසරට යෙදෙන මයාකෝව්ස්කි කවියාගේ 120 වැනි ජන්ම සැමරුම නිමිත්තෙන්.

මගේ වයස වැඩි වෙනවා
ළඟදීම දහ අට වෙනවා
වැඩකට යා යුතු වෙනවා
"කොහි යන්නද ?" විමසනවා

කම්කරුවන් බඳව ගන්න
ඇබෑර්තු ඇත පිරිල ඔන්න
'ලී ඉරන්න බඩු හදන්න
සමතුනි මෙහි වැඩ කරන්න'

පළමුව ලී කොටය ගන්න
හරි මිම්මට කපා ගන්න
ලෑලි එයින් ඉරා ගන්න
එකට තියා සවි කරන්න

වැඩ කරනා කඩිමුඩියට
කියතට වැඩ දඩිබිඩියට
කැපුම යටින් හරිහරියට
කුඩු විසිවෙයි 'සර-සරයට'



දැන් තියෙන්නෙ යතු කැටයේ වැඩ ටික
ලෑල්ල යතු ගා ගැනුමයි ඔපයට
යතු කැටයෙන් එන ලී පටි හරියට
සෙල්ලම් බඩු මෙනි ගෑ කහ සුරුවට

බෝල හැඩය ලීයෙන් කර ගැනුමට
අප යනවා පට්ටල්කරු හමුවට
ලාච්චු හා පා හැඩයට සවිකොට
මෙන්න හැදූ පුටු මේස ද ඔබ හට

පට්ටල්කරුවකු හැටියට වැඩ කෙරුමත් නරක නැතේ
ඉංජිනේරුවකු වීමෙන් වැඩි සේවෙට ඉඩ සැදෙතේ

එහෙම වුවොත් නිවෙස් තනා දීමට මම කැප වන්නෙමි
ඒ ගැන මට ඉගැන්නුවොත් වැඩ ඇති මිනිසෙක් වන්නෙමි

මගේ හිතට ඕනැ තාලෙ සැලසුම් පළමුව අඳිනෙමි
වාසනාව, සතුට ගෙනෙන නිවාස ඉදිකර දෙන්නෙමි

ඉදිරිපස පෙනුම මේකයි - මිදුල මෙයයි, සාලෙ මෙයයි
ඕනැම කෙනෙකුට තේරෙයි - මේක නාන කාමරයයි

සැලසුම දැන් සූදානම් - කොල්ලොත් අපෙ සූදානම්
වැඩේ ටිකක් අවදානම් - ප්‍රවේසමයි, "කට, කට, හ්ම්"

සිය ගණනක් එක ලෙස වැඩ
කරනව සිය ගණනක් වැඩ
අඹර සිසාරා හැඩ වැඩ
වෙවී නැගෙනවා - 'උඩ වැඩ'

කෝටු කැබලි ගෙන යනු හා සරියෙන්
බාල්ක ඔසවන්නේ දොඹකරයෙන්
පෝරණුවේ පුච්චාගත් ගඩොලින්
බිත්තිය ඉහළට නැග යයි වේගෙන්

අමාරු වැඩ ටික දැන් කෙරෙනා තැන
හරිම උසය, "ජය ගනු බොරු, සියොතුන"
වහලය ඉදිකෙරුවා එහි මැනවින
නිවස අපූරුයි නෙත් සිත් පිනවන

ඒ සුවිසල් මනරම් නිවසේ ඇති
නිවාසවල පොඩ්ඩන් නිවසනු ඇති
උන්ගේ දඟ කෙරුමට ඉඩකඩ ඇති
සැප පහසුව නිති සලසා දෙනු ඇති



ඉංජිනේරුවකු වීමට ඇත් නම් මං හරි ආසයි
දොස්තරවරයකු වීමට පුළුවන් නම් ඊට හොඳයි

රෝගිව සිටිනා දරුවන් - ගේ දුක විමසන්නට යමි
ඒ ශිල්පය කියා දෙතොත් - දිවි ඇති තුරු ණයගැති වෙමි

පේත්‍යාගෙ නිවසට යමි - පෝල්යාව බැහැ දකිනෙමි
තොරතුරු කිම්දැයි විමසමි - අසනීපෙන් දැයි අසනෙමි

"නැතිවද කැක්කුම් බඩේ - හැදුනද උණ මේ විඩේ"
"ඉවසන්නට බැහැ ලෙඩේ - දොස්තර කෝ ? හරි වැඩේ"

"ඇදලා පෙන්වනු දිව - කටුව තබනු දිව යට
යෙහෙකි පිරික්සනු තව - සුව කෙරුමට සදහට"

"එතෙක් මෙන්න මේ කුඩෙන් - ගනු තේ හැඳි දෙක බැගින්
දඟලනු තහනම්, සිටින් - දෙදිනක් නොබැසම ඇඳෙන්"

නරක නැතේ වෙදැදුරුකම
ඊට හොඳය කම්කරුකම
එවැඩ කරන දැනමුතුකම
දෙතොත් කරමි මගෙ යුතුකම

නැගිටිනු, වැඩට යනු
නලාවේ අණ අනුයනු
වේලාව නොවරදනු
නොපමාව කම්හලට පැමිණෙනු

සිය දහසක් එහි ජනයා
කඩියන් මෙන් නොව මැලියා
වැඩෙහි නිමග්නව සිටියා
බැලුම පවා දේ සිරියා

තනිවම නොකළ හැකි
වැඩය එකතුව කළ හැකි
යකඩ වුව කපතැකි
කතුරකින් වුව, විකුම් පෑ හැකි

දොඹකරයෙන් - යකඩ කඳන්
අසුරු සැනින් - ගෙන යයි දැන්
යන්තරයෙන් - "දඩිං බිඩිං"
ගාන සරෙන් - තැලෙයි සොඳින්

රැගෙන ළමුන් - ගමන්බිමන්
කෝච්චියෙන් - යනු රිසියෙන්
හනි හනිකෙන් - ලී දඬු මෙන්
පීලි තනත් - පාර එළත්

ටින් උණු කරනෙමු - යන්තර පදවමු
සැම වැඩ එක ලෙස - වටිනා බව දනු

මා ඇණ සැදුවොත් - මුරිච්චි ඔබගෙයි
සැමගෙ එකතුවෙන් - යන්තර තැනෙතෙයි

එක සම ලෙස සක - සා ගත් සිදුරුයි
ඒවට සරි ලෙස - කළ ඇණ සොඳුරුයි

තනිව නොකළ හැකි සුවිසල් කෑලි
සැවොම එකතු වී කර නොව මෑලි

එහි දුම්ලනවා - මෙහි හඬ දෙනවා
කම්හල පුපුරා - වැටෙයි සිතෙනවා

ඔන්න ඔහොම වැඩ වෙවී
දුම්රිය සැදෙමින් වඩී
අප හැම සිත් ඔද වැඩී
එය දැකුමෙන් තුටු වෙවී



කම්මලෙ වැඩවල නරකක් නැත්තේ
ඒත් ට්‍රෑම් රථයයි සිත් ගත්තේ
කොන්දොස්තර මහතකු හැටියට මට
පුහුණුව දෙන්, එහි වරදක් නැත්තේ

සෑම තැනකටම එහි යා හැක්කේ
ටිකට් මැසිම හැම විට අතෙ ඇත්තේ
දවස පුරා ගමනෙම නියැලීමට
රැකියාවෙන් ඉඩ සැලසෙනු ඇත්තේ

"වැඩිහිටියනි මෙහෙට එන්න - ඔබහට හිමි අසුන මෙන්න
දරු පැටවුන් ටිකට අන්න - අතන අසුන් වෙන් කරන්න"



වනිතාවක රිය තුළට නැඟුණු විට
බාල ද වැඩිහිටි භේද නොසලකා
අසුනක් පිරිනැමුමයි හොඳ යුතුකම
පිරිමින් දත යුතු කරුණුයි මේවා

බාල මහලු භේදය නොතකන්නේ
ප්‍රවේශපත් හැම දෙන අරගන්නේ
පීලි දෙකක් උඩ යන ගමනකි මෙය
පොඩි වැරදීමෙන් රිය පෙරළෙන්නේ



රැකියාවට කඩට පිළට
නෑදෑ මිතුරන් බැලුමට
රෝහල, රඟහල, පොත්හල
වෙත ගෙනයමි, හේද කුමට?

කොන්දොස්කරකම හොඳයි
රියදුරුකම හරි අගෙයි
විනීත රියැදුරකු වන්න
ඉගැන්නුවොත් යස අගෙයි





ගිලන් රථය වේගෙන් පදවා යමි
ගිලනුන්ගේ ජීවිත බේරා දෙමි
මහජනතාවගෙ සහයද පතනෙමි
පාර ඉඩ දෙතොත් ඉහළින් අගයමි

රේල් පීලි එළලා නැති තැන්වල
යා ගත නොහැකිව කල් ගතවන කල
පිහිටට සිටිනුයෙ බස් පොළ, රිය පොළ
සුළු කුලියක් දී යා හැක නොව ලත

ගොඩ වෙමු - හනික යමු
නළා නද නොම අගයමු
නීතිය ද අනුයමු
මුදල් ගෙවලා හනික බැස යමු



රියදුරුකම නරක නැතේ
මහජන සේවය සදතේ
ඒ සේවෙම අහසින් ගොස්
සලසනු බැරි කමක් නැතේ

අහස් සැරිය පදවන්නට
උගන්වනු මැනවි මා හට
සඳ, හිරු, තරු ජයගන්නට
මිනිස් බලය පෙන්වන්නට

ඉන්ධන ටැංකිය පුරවා ගන්නෙම්
ඇන්ජිම සැණෙකින් පණගන්වා ගම්
අහසේ ඉහළට වේගෙන් පදවම්
කුරුල්ලනේ නුඹලව මම පරදම්

අව්වට වැස්සට බිය නොම වන්නෙම්
වලා වටා වැහි මොහොතින් යන්නෙම්
මුහුදු ලිහිණියකු වාගේ පියඹම්
සැණෙකින් සමුදුරු තරණය කරනෙම්

වටේ මහ කන්දක් - යන්ට යන්නේ මොහොතක්
රටකින් තව රටක් - බලා යන්නට පැය කිහිපයක්
ඇතොත් වෙයි පමණක් - නැතේ සිත තුළ සැකයක්
තවත් නැත බෙදුමක් - මුළු ලෝකයම එකම යායක්



අහස් නැවියකුගෙ කාරියෙ වරදක් මට නොදැනේ
මුහුදු නැවියකුගෙ කාරිය ඊට හොඳය සිතුනේ
මාස ගණන් මුහුදු මැදින් යන දුෂ්කර ගමනේ
වගතුග මට කියා දෙතොත් අගයෙ නිමක් නොපෙනේ

දිය සුළි සැඩ සුළං මැදින් - අයිස් කුට්ටි බිඳිමින්නේ
බිය සැක පළවා හරිමින් - නව බිම් සොයමින් යන්නේ

හිස් වැසුමේ ලෙලදෙන්නේ
පටිය මුහුදු රළ වැන්නේ
නැංගුරමේ රූපයකින්
නැවි කබාය හැඩ වන්නේ



හේල හෙලෙයි රැල්ල නැගෙයි
නැව පැද්දෙයි අප විසිවෙයි
දියට නොවැටි බළලුන් මෙන්
කුඹ ගසේම එල්ලී ගන්

මාරියාවෙ යටත් වෙයන්
මුහුදු කුණාටුව පලයන්
නුඹට බියෙන් පලාදුවන්
යැයි සැරවැර පා නොකියන්

දකුණු ධ්‍රැවය දක්වා යම්
එහි තොරතුරු සොයා ගනිම්
හැකි වුවහොත් උතුරු ධ්‍රැවය
සොයා ගනිම්, එහි නිවසම්

දැන් පොත කියවා නිමයි
සිතා බලනු හොඳ කිමැයි
තම සිතු, දස්කම් ගැනයි
දැන වැඩකට යනු හොඳයි

රුසියානු මහා කවි

**ව්ලදිමීර් මයාකෝව්ස්කි**

# රැකියාවක් තෝරා ගන්නේ කෙසේද?




**අගහස් ප්‍රකාශන**
717/2, මාදින්නාගොඩ, රාජගිරිය.
0112793671 | 0773985968
roma.lanka@mail.ru

ISBN 978-955-0230-14-3



Rs. 200/-
9"789550"230143"